







# වැඩ බැරි ඈයටයි...

# වැඩ බැරි අයටයි...



වයි. අකිම්





කුකුළා හඬලන්ටත් හිමිදිරියෙන්
ලියුම් බෙදන්නා එයි කඩිමුඩියෙන්
වට පිට බලමින් විපරම් කරමින්
අද නම් එන්නේ කවුදෝ සොයමින්

අමුතුම ලිපියකි ඔහු ගෙන එන්නේ
කාට දෙන්නදැයි නැහැ තව දන්නේ
විඩා බවකි මුහුණින් පළවන්නේ
වැදගත් ලිපියක් බවයි පෙනෙන්නේ





ලියුම් කවරයත් හොඳටම කිළිටියි
ලිපිනය කියවන්ටත් බැරි තරමයි
එහි ලොකු අකුරින් මේ ලෙස දිස් වෙයි
"මෙය දිය යුත්තේ වැඩ බැරි අයටයි"





අංක හතරෙ නිවසේ එළිපත්තට
ගොඩ වී ගෙතුළට එබිකම් කෙරුවා
චෝචා සැරසෙන හැටි තේ බොන්නට
ලියුම් බෙදන්නා කදිමට දුටුවා

කටක් කවන්නට, කිරිටික බොන්නට,
කතා කියන්නට ඕනෑ චෝචට!
ලියුම් බෙදන්නා චිත් දොර ගාවට,
මේ ලෙස කිව්වා කම්මැලි චෝචට.





"කන්නට බොන්නට අකමැති අය හට,
ලිපියක් ගෙන ආවා මා හනිකට!"
ලියුම් බෙදන්නා අත දා මල්ලට,
පුදුම ලියුම දික්කෙරුවා වෝවට!

වෝවා කැඳ එක හුස්මට බිව්වා!
කිරි වීදුරුවත් ඔහු හිස් කෙරුවා!
"මේ ඉන්නේ අපෙ සුරතල් වෝවා,
වැඩ බැරි අය මෙහි නෑ" මව කීවා!





අන්දෲෂා නැවතිලා
ඉන්නෙ උඩ තට්ටුවේ
කාමරය හැඩි වෙලා
යකා නැටුවා වගේ!

සෑම අහු මුල්ලකම
කැඩුණු සෙල්ලම් බඩුයි.
අන්දෲෂා හරියටම
අලුගෝසුවෙක් වගෙයි!

"මෙන්න අන්ද්‍රෑෂ්කා,
ලියමනක් ඇවිල්ලා!"
'තැපැල් මාමා' ලිපිය
ඔහු දෙසට දික් කළා!

අන්ද්‍රෑෂ බයවෙලා
ඉබේටම නැගිටුණා!
ලැජ්ජාවෙ රතු වෙලා
ඇස් බිමට යොමු වුණා.

"මේ ලියුම මට නොවෙයි"
අන්ද්‍රෑෂ කියනවා.
"මෙහෙම කම්මැලි ළමයි,
නැත කියා සිතනවා!"

"මාමෙ, මගෙ ගේ පොඩ්ඩ
ඉක්මනින් හදනවා,
ඉන්පසුව හැම දෙයම,
පෙට්ටියට දමනවා."





දකුණු පස දොර දෙසට
'තැපැල් මාමා' දුවයි.
දොරේ අංකය බලයි,
විදුලි සීනුව ඔබයි.

අංක හතලිස් හතර,
වාස්යාගේ තමයි,
ඔහු දොරට තට්ටු කර,
කාමරය දෙස බලයි.

අඩක් ඇරුණු දොර පළුවෙන්,
ගෙයි කලබලයක් දැනේ,
වාස්යා ඇඟමැළි කඩමින්,
අඳෙන් බසින සැටි පෙනේ!

ඇඳේ ඉඳන් තවමත් ඔහු
අඩ නින්දේ පසුවෙනවා.
පොඩි නංගී දෙපාවලට
පා වැස්මක් අන්දනවා!

ලියුම් බෙදන තැපැල් මාමා,
කාමරයට ගොඩ වෙනවා,
කම්මැලියා අහුවුණා බව,
වාස්යාට පවසනවා.

විදුලි සැරයක් වැදුණු කල මෙන්,
වාස්යා කලබල වුණා.
තැපැල්කරු දෙස හොරෙන් බලමින්
ඇඳ පැළඳ ගෙන සැරසුණා.



"වෙනදා නම් මම තනියම,
හැම වැඩේම කරගන්නව!
ඉඳ හිටලා නංගියාට,
මම දැනමුතු කම් දෙනවා!

කම්මැලි කම්, වැඩබැරි කම්,
මා අහලා වත් නැතුවා!"
ලියුම් බෙදන සුදු මාමට,
ඔහු තේරුම් කර දෙනවා.





ලියුම් බෙදන්නා එතැනින් පිටවී
ඊළඟ දොර වෙත ළංවෙනවා.
සාලය මැද්දෙන් කුස්සිය ඇතුළට
කඩිසර ගමනින් පිවිසෙනවා.

දැලි වැකුණු හැලි වළං, කඩමාලු මෙහි නැතේ
නිදන කාමරයකට ඇතුළු වුණු බව සිතේ
අලස බව නොදන්නා අය සිටින බව දැනේ
චූටි දුව අම්මාට උදව් වන සැටි පෙනේ.

බිත්තිය අද්දර ලී මේසය මත,
සැම දෙයම පිළිවෙළට තබා ඇත.
මේ ගෙය ඇතුළට එන අයගේ සිත,
සතුටින් පිනවන සිරියාවක් ඇත.

"වැරදි තැනට මම නැවතත් ආවා"
ලියුම් බෙදන්නා සුසුමක් හෙළුවා!
"සමාවන්න, මම කරදර කෙරුවා"
තැපැල් මාමා එතැනින් පිට වූවා.





උදේ පටන් එනතුරු ඉර මුදුනට
ඇවිදල ඇවිදල පත් වී වෙහෙසට
කවුදෝ ඉන්නා බව දැන ඈතට
ලියුම් මාමා ආවා මල් වත්තට

පුංචි බෝරිස් හොඳ ළමයෙකි දඟ නැති
ගහට වැලට සලකන අදරින් නිති

වැඩ බැරි අය කවුරුත් මෙහි නැතුවා
ලියුම් බෙදන්නා සුසුමක් හෙළුවා

බර්ච් ගහ යට හරිම හෙවණයි
ටිකක් නැවතී ඉන්න කදිමයි



උදේ ඉඳන් එහෙට මෙහෙට
රැගෙන ගියා ලියුම අතට
අරගෙන මම කියවන්නම්
ඕනෙ ද දැනගන්න ඔබට

ලොකු අකුරින් එකම පෙළට
එක වදනක් ලියා තිබේ




මේ ලියුම අරන් මම
ගෙයින් ගෙට ගිය නිසා
දැන් ඉතින් දන්නවා
පොඩි ළමයි ගැන ඉතා

කිසිවෙකුට ඕනෙ නෑ
වැඩ බැරිව ළතැවෙන්න
කම්මැලිව ඔහෙ ඉන්න

මගේ පොඩි දරුවනේ
ඔබෙන් මම අසන්නේ
මේ ලියුම අරන් මට
සිදුවේ ද ඇවිදින්න
හැමදාම මේ ලෙසේ

# වැඩ බැරි අයටයි

වයි. අකීම්

චිත්‍ර

ජී. වාල්කා

ISBN 978-955-1979-57-7

නව සකැසුම

මාලක ලලනජීව

ප්‍රකාශනය




කැනොල් පබ්ලිෂිං හවුස්

මුද්‍රණය

කැනොල් ප්‍රින්ට්

ප්‍රථම මුද්‍රණය 2021

